# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

**"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරදි දැනුමෙන්**
**රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"**

<u>**ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය**</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.

**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඔබ ජන්මලාභය ලබා ඇත්තේ ඉන්දීය සාගරයේ මුතු ඇටය යැයි විරුදාවලී ලත් රටකය. ඔබේ රට අන් රටවල් හා සැසඳූ කල කුඩා රටක් ලෙස පෙනුණද එහි අගය අමිල ය. එවන් අගනා පුණ්‍යභූමියක උපන් ඔබ සැම සැබවින්ම වාසනාවන්ත පිරිසකි. සිසු දරුදැරියන් වන ඔබ සැම, හොඳින් අධ්‍යාපනය ලබා ගුණ නැණ බෙලෙන් යුතු පුර වැසියන් ලෙස අනාගත ලෝකය එළිය කරනු දැකීම අපගේ ඒකායන අපේක්ෂාවයි. එම අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා අවශ්‍ය සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂය මාලාවට අනුව මේ වන විට 1, 2, 3 සහ 4 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට නව පෙළ පොත් හඳුන්වා දීමෙන් අනතුරුව මෙම අදියරේ ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ. 1 ශ්‍රේණියේ සිට 5 ශ්‍රේණිය දක්වා ප්‍රාථමික ශ්‍රේණිවල සිප් සතර හදාරන ශිෂ්‍ය ප්‍රජාව වෙනුවෙන් රජය තිළිණ කරන පෙළපොත් සංඛ්‍යාව 30 ක් පමණ වේ. මේ වටිනා සම්පතින් ජීවිතය ආලෝකවත් කර ගැනීමට කටයුතු කිරීම ඔබ සැමගේ වගකීම විය යුතුය.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීම සඳහා කැපවීමෙන් කටයුතු කළ ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ට සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයට මාගේ ස්තුතිය පුද කරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය**

ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්. ජී. ඩී. එන්. එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

අතිඋතුම් දේව ධර්මාචාර්ය ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික)
අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ

**සංස්කාරක මණ්ඩලය**

අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා - ජාතික අධ්‍යක්ෂ, කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය, කොළඹ 08

ගරු චමින්ද චනිගසේන පියතුමා - විදුහල්පති (පාලන)
ශාන්ත ජෝශප් විදුහල, කොළඹ 10.

**ලේඛක මණ්ඩලය**

නිර්මලා රත්නායක - ගුරු වෘත්තිය, ශාන්ත පීතර විදුහල, කොළඹ 4.

සී. අයිරාංගනි රුද්‍රිගු - ගුරු වෘත්තිය, ශාන්ත ලුසියා ම.වි, කොටහේන, කොළඹ 13.

ගරු. ඒ. ආර්. ලුෂියා නි.ම.නි. පියතුමා - ශාන්ත අන්තෝනි දෙව්මැදුර, දෙමටගොඩ

**චිත්‍ර සහ පිටකවරය**

ඩී. ප්‍රසාද් නිශාන්ත පීරිස් - ගුරු වෘත්තිය, ශාන්ත පිතර විදුහල, කොළඹ 04.

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි - පරිගණක අංශය,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංකය

1

# ලෝකය හරි ලස්සනයි

මහෝත්තම දෙවි පියාණන් වහන්සේ
හරි හොඳයි.
අපට ලස්සන ලෝකයක් මවා දුන්නා.
හරිම ලස්සනයි.

මගේ ශරීරය බොහොම වටිනවා.
මා එය පිරිසිදුව තබා ගන්නවා.

මට සිරුර ලබා දුන් මහෝත්තම දෙවි පියාණන් වහන්සේට මම ආදරෙයි.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 1හි ඇත. (පිටු අංක 23)

3

# අපේ පවුල

අම්මා තාත්තා හරි හොඳයි - අපට ආදරෙයි
අක්කා අයියා නංගී මල්ලී - හරිම එකමුතුයි

මට අම්මා, තාත්තා
සහෝදර සහෝදරියන්
ලබා දුන් මහෝත්තම
දෙවි පියාණන්
වහන්සේට ස්තුතියි.

## අපේ නෑදෑයෝ

ආච්චි සීයා එක්වෙලා - කියති නිතර රස කතා
නැන්ද මාමා සමඟිනා - සිටිමු තුටින් අපි සැමා

අප නෑදෑයින්ට ආදරය කරන විට මහෝත්තම දෙවි පියාණන් වහන්සේ අපටත් ආදරය කරන සේක.

# දේව ආදරය තුළින් අපට ලැබුණු තවත් අය

අපේ ගුරුවරුන් තුළින් මහෝත්තම දෙවි පියාණන් වහන්සේ අපට ආදරය කරන සේක.

ජේසුස් වහන්සේ වගේ අපිත් අසල්වැසියන්ට සහ යහළුවන්ට උදව් වෙමු.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 2හි ඇත. (පිටු අංක 24)

# දෙවිඳුන් මැවූ ලස්සන ලෝකය රැක ගනිමු

මල් නෙළන්න නම්
ගෙඩි කඩන්න නම්
සුරකිමු ගස් වැල්

කීචි බීචි හඬ අසන්න නම්
සතුන්ගේ සුරතල් බලන්න නම්
ඔවුන් රකිමු එක් වී සතුටින්

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 3හි ඇත. (පිටු අංක 25)

# කිතුනු දරුවා හොඳ ළමයෙකි

ජේසු කුමරු මෙන් අපිත්
දෙවි පියාණන් වහන්සේට යදිමු.
දෙමව්පියන්ට කීකරු වෙමු.
වැඩිහිටියන්ට ගරු කරමු.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 4හි ඇත. (පිටු අංක 26)

# මහෝත්තම දෙවි පියාණන් වහන්සේට කතා කරමු

හිස නමා - දණ ගසා
වදිමු අපේ දෙවි පියා
මහෝත්තම දෙවි පියාණෙනි, අපට දුන්
හැමදේටම ස්තුතියි.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 5හි ඇත. (පිටු අංක 27)

# 8

# සාන්ත කුරුැසිය

උදේ සවස අපි - අඳිමු කුරුැසේ නළලේ
තොල් දෙක මතටත් - පපුවේ මැදටත්
අඳිමු අඳිමු කුරුැසේ.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 6හි ඇත. (පිටු අංක 28)

# මම දේව දරුවකු වෙමි

මා ප්‍රසාද ස්නාපනය ලැබුවා.
එදා සිට මා දේව දරුවෙක් වුණා.
එලෙස ම මා කිතුනු පවුලට පිළිගනු ලැබුවා.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 7හි ඇත. (පිටු අංක 29)

# සාන්ත මරියනි දේව මෑණියනි

දේව අම්මේ,

ඔබ තුමිය බැහැපත් ය, යහපත් ය.

ජේසු සමිඳුන්ගේ

අම්මා වීමට වාසනාව ලැබුවේ

ඔබ තුමිය පමණක් ය.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 8හි ඇත. (පිටු අංක 30)

# සුරැකි පියා වන ශුද්ධ වූ ජුසේ තුමා

මෙලොවෙ දී කුඩා ජේසුස් වහන්සේ රැක බලාගත්තේ ශුද්ධ වූ ජුසේ තුමා යි.
ශුද්ධ වූ ජුසේ තුමා වඩු වැඩ කළා.
කුඩා ජේසුස් වහන්සේ සුරැකි පියාට නිතර ම උදව් කළා.
ඒ වාගේ අපිත් අපේ දෙමව්පියන්ට උදව් කරමු.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 9හි ඇත. (පිටු අංක 31)

## 12

# ජේසුස් වහන්සේගේ උපත

ජේසු කුමරුගේ උපතයි - ගවලෙනයි

සමගිය සාමය සපිරුණු - නත්තලයි

බෙදා හදා ගැන්මයි - සැම සිත් සතුටුයි

ගැලැවුම්කරුවාණෙනි

මේ තුති ඔබ වහන්සේට යි.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 10හි ඇත. (පිටු අංක 32)

13

# ජේසුස් වහන්සේගේ පුදුම ක්‍රියා

කානාවේ මඟුල් ගෙදර - මිදි යුස මදි වූවා
ජේසු සමිඳු ආවා - ජලය රැස් කෙරෙව්වා
ආසිරි ගැන්වූවා - දිය මිදි යුස වූවා
සැවොම පුදුම වූවා - සතුටින් තුති පිදුවා

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 11හි ඇත. (පිටු අංක 33)

# කුරුසිය ජයගත් ජේසුස් වහන්සේ

ජේසුස් වහන්සේ
දුක් වින්දේ මා නිසයි.

INRI

මරණයට පත් වුණේ
මගේ වැරදි නිසයි.
උත්ථාන වුණේ මට
ආදරේ නිසයි.

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 12හි ඇත. (පිටු අංක 34)

# 15

# ශුද්ධ බයිබලය

මහෝත්තම දෙවි පියාණන් වහන්සේගේ ආදර වචන අඩංගු වී තිබෙන්නේ ශුද්ධ බයිබලයේ ය. කිතුනු අපේ උතුම් ම පොත ශුද්ධ බයිබලය යි.

**දේව වචනයට සවන්දෙමු; කියවමු; පිළිපදිමු.**

උපදෙස් :- පාඩමට අදාළ ක්‍රියාකාරකම ඇමුණුම් අංක 13හි ඇත. (පිටු අංක 35)

# ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා

ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා අපේ රටේ
අපෝස්තුලුවරයා ය.
ශ්‍රී ලංකාවට බිහිවුණු වීරෝදාර
සාන්තුවරයාණෝ එතුමාණෝ ය.

## 17

# සාන්ත ආනාතුමිය

ආනා මැණී - ජුවකීම් පියෙණී
මරි මව ඔබේ දෝණී
ආදරයෙන් හොඳ නරක කියා දී
හැදූ සුදුවර දෝණී

දෙවි සමිඳුට ආදරේ කළා
දෙව් මව් ලැබුණා තෑගි ලෙසා
ජේසු සමිඳු මුණුබුරු වූවා
දෙවි සමිඳුන් හට තුති පිදුවා

## 18

# සාන්ත අන්තෝනි මුනිතුමා

ශුද්ධ වූ අන්තෝනි මුනිතුමා
ප්‍රාතිහාර්යයේ සාන්තුවරයාණෝ ය.
නැති වූ දේවල් සොයා ගැනීමට
පිහිට වන්නේ මෙතුමාණෝ ය.

# සාන්ත සෙබස්තියන් මුනිතුමා

බෝවන රෝග සුව කිරීමට අප වෙනුවෙන් මැදිහත් වන්නේ සාන්ත සෙබස්තියන් මුනිතුමා ය.

# අතිඋතුම් ෆ්‍රැන්සිස් ශුද්ධෝත්තම පියතුමා

ශුද්ධ වූ සභාවේ වර්තමාන නායකයාණෝ
අතිඋතුම් ෆ්‍රැන්සිස් ශුද්ධෝත්තම
පියතුමාණෝ ය.
ආර්ජන්ටිනාව එතුමාගේ උපන් රටයි.
එතුමාණන් වාසය කරන්නේ රෝම නගරයේ ය.
ශුද්ධෝත්තම පියතුමා වෙනුවෙන්
අපි සැමදා යාච්ඤා කරමු.

ඔබේ රූපය අඳින්න. පාට කරන්න.

දෙවිඳුනි,

මා මැව්වාට ඔබ වහන්සේට

ස්තුතියි.

ආමෙන්.

කැමති සුරතලා ව තෝරන්න.
බලා අඳින්න. පාට කරන්න.

මහෝත්තම දෙවි පියාණන් වහන්සේ අපට දුන් ලෝකය තවත් ලස්සන කරමු.

මෙහි හොඳ වැඩ දැක්වෙන පින්තූරවලට අදාළ අංක වටා රවුමක් අඳින්න.

1

2

3

4

5

6

7

8

ඇමුණුම් අංක 8

පාට කොළ ඉරා අලවා මල ලස්සන කරන්න.

කුඩා ජේසු සමිඳුන් දේව මෑණියන්ට ආදරය කළාක් මෙන් ඔබත් ඔබේ අම්මාට ආදරය කරන බවට දේව මෑණියන්ට පොරොන්දු වෙන්න.

ඇමුණුම් අංක 9

වඩු වැඩ සඳහා භාවිත කළ උපකරණ සොයා, පුටුවේ රූපයට යා කරන්න.

ඇමුණුම් අංක 10

මෙම නත්තල් ගස සරසන්න.

ජේසු කුමරු මෙන් අපිත් බැහැපත් වෙමු.

කොඩි ගසේ ඇති වචනවල අඩු අකුරු පුරවන්න.

හොඳ වැඩ කරන්න. ඔබ කරන හැම හොඳ වැඩක් වෙනුවෙන් ම මෙහි මලක් අලවන්න. කටු ඔටුන්න වෙනුවට මල් ඔටුන්නක් සාදන්න.

★ චතාරික කාලය පුරාවටම මෙය ක්‍රියාත්මක කරන්න.

කඩ ඉරි යා කරන්න. පහන පාට කරන්න.

ශුද්ධ බයිබලයට ගරු බුහුමන් දක්වන්න.